# විස්කම් දැරිය

ජේ. ර්. ගුණසේකර

# කර්තෘ ගේ වෙනත් කෘති

**භාෂාව:-**

රචනා දර්ශය

**පරිවර්තන:-**

උභය ජීව - විද්‍යාත්මක නවකතාව
(1983 සාහිත්‍ය සම්මානය)

**කුංච නාද** - විද්‍යා ප්‍රබන්ධය

**නවසඳ සහ වෙනත් කතා** - නව චීන සාහිත්‍යයෙන්

**කැතී සහ කිඹුලා** - ළමා චිත්‍රපට කතාව

අනුවර්තන:-

අයිය මලෝ (ළමා)

**ළමා පොත්:-**

මුතු මාලය
ඔමුවා ගේ සිහිනය
කුංචා
හැංගි මුත්තං
එලෝ අමුත්තෝ

සෝවියට් විද්‍යා ප්‍රබන්ධයක් ඇසුරිණි

(3, 4, 5 ශ්‍රේණි සඳහා සුදුසු අතිරේක කියවීම් පොතකි)

# විස්කම් දැරිය

ජේ. ඊ. ගුණසේකර

ප්‍රකාශනය :

මිහිර ප්‍රකාශකයෝ

බෙදාහැරීම :

කුරුළු පොත්

602, නාවල පාර,

රාජගිරිය.

# පෙර වදන

විස්කම් දැරිය වූකලී අපේ ළමා සාහිත්‍යය එයට සුපුරුදු විෂය සීමාවෙන් ඔබ්බට ගෙනයාම සඳහා කරන ලද අත්හද බැලීමකි.

ළමා මනස පුබුදු කරවීමට සුරංගනා කතා සහ ජන කතාවලින් ලැබෙන පිටුවහල කිසි සේත් සුලු කොට සැලකිය නොහැකිය. ශ්‍රීෂ්ටාචාරයේ මුල් යුගයේ පටන්ම පැවති ස්වභාවික ළමා සාහිත්‍යය එයයි. සාහිත්‍යය ලෝකයේ මුදුන් තැන්වලට නැඟුණු බොහෝ දෙනා පටන් ගත්තේ ආත්තම්මලාගේ කතන්දරවලිනි. එහෙයින් අපේ ළමා සාහිත්‍යයයෙහිද සුරංගනා කතාවලට මුල් තැනක් ලැබීම පුදුමයක් නොවේ.

එහෙත් හැබෑ ළමා සාහිත්‍යය සුරංගනා කතා තුළ කොටු කර තැබිය නොහැකිය. එදිනෙද ජීවිතයේදී හමු වන පුද්ගලයන් සහ සිදුවීම් ඇසුරෙන් ලියැවුණ සාහිත්‍ය-යක් වැඩිහිටියන්ට මෙන්ම ළමයින්ටද අවශ්‍යය. ඔවුන් වයසින් වැඩෙත්ම උසස් සාහිත්‍යයක් කරා යොමු කළ හැක්කේ එමගිනි. මේ ගණයේ කෘතීන්ද අපේ ළමා සාහිත්‍යයට කෙමෙන් ඇතුළු වන බව පසුගිය අවුරුදු කීපය තුළ බිහිවූ පොත පත දෙස බැලීමෙන් පෙනේ.

විද්‍යාව අද වේගෙන් ඉදිරියට ගමන් කරයි. පාසැල් ජීවිතයේදීම විද්‍යාව උසස් ලෙස හදරන්නට සුදනම් වන දරුවා ළපටි වියෙහිදී විද්‍යාව දෙසට යොමු කරවන සරල පොත පතද අපට අවශ්‍යය. එබඳු පොත්ද කීපයක් තමුදු ලියවී ඇත.

'විස්කම් දැරිය' මේ හැමට වෙනස් පොතකියි සිතමි. සමහර විට එය, ඒ ගණයේ පළමු වැන්නද විය හැකිය.

විද්‍යා - තාක්ෂණ දියුණුව ඔස්සේ අනාගතය දෙස බලා කල්පිත කතා ලියන ලේඛකයෝ අද බොහෝ රටවල වෙසෙති. ඔවුන් ලියන කතා විද්‍යා ප්‍රබන්ධ නමින් හඳුන්-වනු ලැබේ. ළමා ජීවිතයට සමීප තේමාවක් යටතේ ලියන ලද ප්‍රබන්ධයක් පුංචි ළමයින්ට පවා පහසුවෙන් දිරවිය හැකි කතාවක් බවට පත් කර ලියන ලද පොතකි, 'විස්කම් දැරිය.'

සෝවියට් ලේඛකයෙකු වූ 'කිර් බුලිචෙව්' ගේ 'සියල්ල ජයගත් දැරිය' නම් විද්‍යා ප්‍රබන්ධ කතාව ඇසුරින් එය ලියා ඇත.

එහි එන කතාවල විද්‍යා පසුබිම වටහාගන්නට ළමා කියවන්නන්ට පහසු වන සේ සෑම කතාවක් මුලටම අත්වැල නමින් කොටසක් එකතු කර ඇත. අත්වැල කියවූ පසු කතාව තේරුම් ගැනීම වඩාත් පහසු වෙතියි සිතමි.

ජේ. ඊ. ගුණසේකර

1987 අප්‍රියෙල් 25,
හෝමාගම,
හබරකඩ දී ය.

පටුන

# "විස්කම් දැරිය"

**විසි එක් වන ශත වර්ෂයේ සිඟිති දැරියක ගේ දස්කම් ගැන ඇගේ පියා වාර්තා කරයි.**

**හෙට** ඇලිස් හා පුරා කියා පාසැල් යන දවසයි. එය බොහොම සැලකිය යුතු දවසක් වන බව පෙනේ අද උදේ සිටම ඇලිස්ගේ යාළුවෝත් ඈ අඳුනන උදවියත් නොරතෝංචියක් නැතිව වීඩියෝපෝනයෙන් ඈ අමතා කතා කරති; ඈට සුබ පතති.★ පසු ගිය තුන් මාසය තිස්සේ ම තමා යන පාසැල පිලිබඳ තොරතුරු කියමින් කරදර කළා මිස ඇලිස් ඔවුන්ට ඉස්පාසුවක් දුන්නේ නැත.

මේ තරම් කඩි කුලප්පුවක් කුමක් නිසා දැයි මට තේරුම් ගන්නට බැරිය. මා පළමුවෙන් පාසැල් ගිය දවසේ නම් කවුරුවත් මෙවැනි කලබලයක් කළ බවක් මට මතක නැත.

---

★ වීඩියෝපෝනය: කතා කරන අයගේ රූපය ද දැක්වෙන ටැලිපෝනය.

දැන් කලබලය අඩු වී මද සන්සුන් බවක් ඇති වී තිබේ. ඒ බ්‍රොන්ට්ට ආයුබෝවන් කීමට ඇලිස් සත්වෝද්‍යානයට ගිය නිසාය.

මේ ලැබුණු විවේකයේ දී ඇලිස් විසින් සිදුකර ඇති හපන්කම් කීපයක් යතුරු ලියනය සඳහා කියවීමට මම අදහස් කරමි. මා බලාපොරොත්තු වන්නේ ඉන් පිටපතක් ඇගේ ගුරුතුමිය වෙත යැවීමටය. තමා කටයුතු කරන්නේ කොයි විදියේ ළමයෙකු සමග ද යන්න ගුරුතුමිය දැනගෙන සිටීම කොයි අතටත් හොඳය.

ඇලිස් හිතුණ දේ කරන ළමයෙකි. ඒ නිසා මගේ දුව හොඳින් රැක බලාගන්නට මේ තොරතුරු ඇට උදව් වෙනවා නිසැකය.

පටන් ගැනීමේදී එකක් කිව යුතුය. අවුරුදු තුනක් වයස් වන තුරු අනෙක් සාමාන්‍ය ගැහැනු ළමයෙකුට වඩා වෙනසක් ඇලිස් තුළ තිබුණේ නැත. ඇට බ්‍රොන්ට් මුණගැසුණෙන් සතර වන අවුරුද්දේය. ඊට පසු ඈ පුදුම හපන්කම් කළාය. ඈ ඉතාමත් අවදානම් අවස්ථාවල දී අතුරුදන් වූවාය. මේ යුගයේ ඉතා ම දක්ෂ විද්‍යාඥයන්ට වත් බැරි සොයාගැනීම් අහම්බෙන් නමුත් සිදු කළාය. තමා ගේ වයසට කිසි සේත් නොගැළපෙන හපන්කම් කිරීමට තමා සමත් බව ඈ පෙන්නා දුන්නාය. ඕනෑම කෙනෙකු ගේ හොඳ හිත තමාගේ වාසියට යොදාගන්නට ඈ සමත් වූවාය. ඇට බොහෝ යාළුවෝ සිටියහ. ඇගේ දෙමාපියන් වන අපට කරන්න බැරි බොහෝ දේ ඈ කළාය.

---

# 1
# හුරතල් බ්‍රොන්ටි

(අත්වැල: අපේ කථාවේ වීරවරිය වන ඇලිස් විසි එක් වන ශත වර්ෂයේ ජීවත් වන පුංචි ගැනු ළමයෙක්. ඔබ දන්නවා ඇති අපි තවම ජීවත් වන්නේ විසි වන ශත වර්ෂයේ බව. එතකොට ඇලිස් අනාගතයේ පහළවන ළමයෙක් ඇ ඇගේ වීර ක්‍රියා කරන්නේ ඒ කාලයේ ඇති වෙතැයි සලකන විද්‍යා තාක්ෂණ දියුණුව යට තේයි.

ඇලිස් ගේ පළමු වන අස්කම දැක්වෙන කථාවේ නම බ්‍රොන්ටි. බ්‍රොන්ටි යන්න බ්‍රොන්ටසවුර පැටවෙකුට ඇලිස් දීපු හුරතල් නම. බ්‍රොන්ට-සවුරයා මීට අවුරුදු කෝටි ගණනකට පෙර විසූ උරග ගණයට අයිති දැවැන්ත ගොයෙක්. සමහර බ්‍රොන්ටසවුරයන් අඩි 80 ක් තරම උසට වැඩුණා. අර්ධ ජලජ ජීවිතයක් ගත කළ ඌ කුඩා හිසක් සහ දිග බෙල්ලක් ද අඩි 4 ක පමණ වලිගයක් ද ඇති අඩි 80 පමණ උස්වූ සත්ත්වයෙකැයි සලකනු ලැබේ. ඒ යුගයේ පොළොවේ විසූ ප්‍රධාන සත්ත්ව වර්ගය මේ උරගයෝ යි.)

මම මොස්කව් සත්ත්වෝද්‍යානයේ වැඩ කරමි. චිලී රටේ සංචාරකයන් කණ්ඩායමක් විසින් අප රටේ යැනිසි ගඟ බඩ කන්දක් කඩා වැටුණ තැනක තිබී සොයාගන්නා ලද

බ්‍රොන්ටසවුර බිත්තරයක් අපේ සත්ත්වෝද්‍යානයට තෑගි කරන ලදී.

බිත්තරය ටැනිස් බෝලයක් තරම් මහත ඇති වටකුරු එකක් වීය. එය කවදාවත් දිය නොවන අයිස් කැටි සහිත පර්වතයක් තුළ තැන්පත් වී තිබුණේය.

විද්‍යාඥයෝ මේ බිත්තරය පරීක්ෂා කර බලා එය අවුරුදු කෝටි ගණනක් මුළුල්ලේ හොඳින් ආරක්ෂා වී ඇති බව කීහ. තව ද එය සත්ත්වෝද්‍යානයේ තිබෙන බිත්තර රක්නයෙහි තබා රැක්කවිය හැකි තරම් අළුත් තත්ත්වයක පවතින බව ද ඔවුහු තීරණය කළහ.

අපි බිත්තරය, බිත්තර රක්නයෙහි තැන්පත් කෙළෙමු. එහෙත් කලලය වැඩෙනු ඇතයි කා තුළවත් එතරම් විශ්වාසයක් නොවීය. ඒත් සතියක් ගිය තැන ගත් ඇක්ස්-රේ ඡායා රූප එය වැඩෙන බව දැක්විය. මෙය වහාම ටෙලිවිසනයෙන් ප්‍රචාරය කර හරින ලදී. ප්‍රවෘත්තිය ලොව පුරා බලවත් කැළඹීමක් ඇති කෙළේය. විද්‍යාඥයෝ සහ පත්‍ර වාර්තා කරුවෝ සෑම රටකින් ම මොස්කව් නගරය කරා ගුවන් මගින් එන්නට වූහ. ගෝකි වීදියෙහි වූ මහල් අටකින් යුතු වීනස් හෝටලය ඔවුන් සඳහා ම වෙන් කිරීමට අපට සිදු විය. එහෙත් එහි ඉඩ මදි විය. අප විසූ තට්ටු නිවාසයේ කෑම කන කාමරයෙහි තුර්කියෙන් ආ පුරාජීව විද්‍යාඥයන්[1] අට දෙනෙකුට නවාතැන් දෙන්නට අපට සිදු විය. මම ඉක්වදෝරයෙන් ආ පත්‍ර වාර්තාකරුවෙකු සමග කුස්සියේ නිදගතිමි. ඇන්ටාර්ටික්

1. පුරාජීව විද්‍යාඥයෝ: පොසිලයන් (ආදි යුගයේ ගල් වූ පැළැටි හා සතුන්) ගේ උපකාරයෙන් ආදි යුගවල ජීවය පිළිබඳ තොරතුරු සොයන විද්‍යාව දත් අය.

මහාද්වීපයේ කාන්තා සහරාවකින් පැමිණි නියෝජිතයෝ තිදෙනෙක් ඇලිස් සමඟ ඇගේ කාමරයේ නිදගත්හ.

එක් සැන්දෑවක අපට වීඩියෝපෝනයෙන් කතා කළ නුකුස් හි ක්‍රීඩාගාරයක් ගොඩනැගීමේ යෙදී සිටි ඇලිස් ගේ අම්මා තමා වැරදි නොම්මරයකට කතා කරන බව සිතුවාය. අපේ ගෙදර ඒ තරමට අමුත්තෝ සිටියහ.

ලොව පුරා ඇති රූපවාහිනි චන්ද්‍රිකා මඟින් බිත්තරය සෑම ආකාරයකින් ම පෙන්වන ලදී. බිත්තරයේ ඉදිරිපස දර්ශනය, එහි පැත්තක දර්ශනය, බ්‍රොන්ටවුසර ඇට සැකිල්ල සමග බිත්තරයේ දර්ශනය ආදී වශයෙනි.

සාකච්ඡාවක් පැවැත්වීම සඳහා විද්‍යාඥයන් ගේ රැස්-වීමක් සත්ත්වෝද්‍යානයේ පැවැත්වීමට කටයුතු සූදනම් කරන ලදී. රැස්වීම පැවැත්වෙන අතරතුරේ බිත්තර රක්නය තිබෙන කාමරයට අමුත්තන් ගේ ඇතුළු වීම තහනම් කරන ලදී. ඒ නිසා ඔවුන්ට අහහරු ලොවින් ගෙන ආ මන්තීස් නම් යාඥා කෘමීන් සහ ධ්‍රැව වලසුන් දැක බලාගැනීමෙන් සෑහීමකට පත් වන්නට සිදු විය.

මෙ උමතුව පටන් ගෙන හතලිස් හය දවසක් ගිය පසු බිත්තරය ගැහුණේ ය. ඒ මොහොතේ මගේ මිත්‍ර මහා-චාර්ය යකටා සහ මම බිත්තරය තැන්පත් කර තිබූ විදුරු පෙට්ටිය ළඟ තේ පානය කරමින් සිටියෙමු. බිත්තරය තුළින් යමක් බිහි වෙතැයි අප එතරම් විශ්වාසයකින් සිටියේ නැත. කලලයට හානි සිදු විය හැකි නිසා එහි ඇක්ස්-රේ ඡායා රූප ගැනීම ද නවත්වා තිබුණේ ය. මීට

---

2. යාච්ඤා කෘමීන්: තමාගේ ඉදිරි පා දෙක යාච්ඤා කරන්-නෙකුගේ අත් මෙන් උඩට ඔසවා ගොදුරු අල්ලා කන කෘමි විශේෂයක්.

පෙර කවදාවත් කවුරුවත් බ්‍රොන්ටවුසර බිත්තරයක් රක්කවා නොතිබුණ නිසා අපට ඒ ගැන පේන කියන්න පුළුවන් කමක් ද නොවීය.

බිත්තරය නැවත නැවතත් ගැහී කළුපාට සර්ප හිසක් වැනි දෙයක් ගොරහැඩි බිත්තර කටුව තුළින් එළියට ආවේය. මානා තිබූ ඉබේ ක්‍රියා කරන කැමරා වැඩ කරන්නට විය. බිත්තර රක්නයේ රතු එළිය නිකුත් වී ඇති බව මම දුටිමි. පුදුම ආකාරයේ තැති ගැන්මක් බඳු හැඟීමක් සත්ත්වෝද්‍යානය තුළ පැතිර ගියේය.

එතැන සිටීමට නියමිත සියළු දෙනා මෙන් ම මේ ආරංචියෙන් ඇවිස්සුණු බොහෝ දෙනා ද එහි රැස් වූහ.

''තාත්ති, මොකක් ද එයාගෙ නම?'' මට හුරු පුරුදු කට හඬක් ඇසුණේය.

''ඇලිස්!'' මට පුදුමයෙන් කෑ ගැසුණේය.

''මම පත්‍රවලින් ආපු නැන්දලත් එක්ක ආවා.''

''ඒත් පුංචි ළමයින්ට ඇතුළට එන්න දෙන්නෙ නෑ නේද?''

''ම්ං ආවා. කවුරුත් එක්ක කීවා මම ඔයාගෙ දුව ය කියල. ඉතින් මට එන්න දුන්නා.''

''ඇයි ඔයා දන්නෙ නැද්ද අයුතු විදිහට පුද්ගලික වාසි ලබාගැනීම වැරදි බව?''

''ඒත් තාත්ති බ්‍රොන්ටි එක්ක සෙල්ලම් කරන්න එයාගෙ වයසෙ කෙනෙක් නැති වුණාම එයාට දුක හිතෙයි නෙ?''

මම නොයිවඉල්ලෙන් උරහිස් ගැස්සුවෙමි. ඇලිස් ගෙදර එක් කරගෙන යාමට මට විනාඩියක් වත් කාලය තිබුණේ නැත. ඇ සමඟ පිටත් කර යැවීමට කෙනෙකු සිටියේ ද නැත.

''මෙතනම ඉන්න. අහලක්වත් හෙල්ලෙන්න එපා.'' කියූ මම අලුත උපන් බ්‍රොන්ටවුසර පැටවා ඉන්න වීදුරු පෙට්ටිය දෙසට දුව ගියෙමි.

එදා හවස තිස්සේ ම අප දෙන්නා කතා කළේ නැත. මම ඇට බිත්තර රක්නය තිබෙන කාමරයට යාම තහනම් කෙළෙමි. එහෙත් තමාට චූටි බ්‍රොන්ටි ගැන දුක හිතෙන නිසා මට කීකරු වෙන්නේ නැති බව ඇ කීවාය. ඊළඟ දවසේ ජුපිටර් – 8 අජටාකාශ යානයෙන් ආ අජටාකාශ ගාමීන් කණ්ඩායමක් සමඟ එම කාමරයට යාමට මග පාද ගැනීමට ඇ සමත් වූවාය. අජටාකාශ ගාමීන් වීරයන් නිසා කවුරුවත් ඔවුනට තහංචි දැම්මේ නැත.

''සුබ උදෑසනක් වේවා බ්‍රොන්ටි.'' වීදුරු පෙට්ටිය දෙසට යන ගමන් ඇ කීවාය.

සිහිනි බ්‍රොන්ටසවුරයා ඇස් කොනින් ඇලිස් දෙස බැලුවේය.

''කාගෙද මේ ළමයා?'' මහාචාර්ය යකටා සැරෙන් ඇසුවේය.

මට පොළොව පලාගෙන යන්ට සිතුණි. එහෙත් ඇලිස්ට වචන වලින් හිඟයක් තිබුණේ නැත.

''ඔයා මට කැමති නැද්ද?'' ඇ මහාචාර්යවරයා ගේ මූනට ම ඇසුවාය.

''අකමැති නෑ. හැබැවට ම මම ඔයා එනවට කැමතියි. මම හිතුව ඔයා අතරමං වෙයි කියල.'' පුංචි ළමයින් සමඟ කතා කර වැඩි පළපුරුද්දක් නැති මහාචාර්ය වරයා කීවේය.

''බොහොම හොඳයි.'' ඇලිස් කීවාය. ''බ්‍රොන්ටි, මම ඔයාව බලන්න හෙට උදේ එන්නම්.'' කියමින් ඈ පිට වී ගියාය.

පසුදා ද ඉන් පසු සෑම දිනක ම පාහේ ද ඇලිස් බ්‍රොන්ටි බලන්නට ගියාය. කවුරුත් ඈට හිතවත් වූහ. ඔවුහු කිසි ප්‍රශ්නයක් නැතිව ඈට ඇතුළු වන්නට ඉඩ දුන්හ.

මම මේ පලහිලව්වෙන් සම්පූර්ණයෙන් ඉවත් වීමි. අපේ නිවස තිබුණේ සත්ත්වෝද්‍යානයට යාබදවය. ඇලිස්ට එහි යන්නට පාර හරහා පනින්නට වුවමනා නැත. ඇරත් හැමදම පාහේ ඈ සමඟ යාමට කවුරු හරි සිටියහ.

බ්‍රොන්ටසවුර පැටවා ඉක්මනින් වැඩුණේය. මාස යක් ගතවන විට උගේ දිග මීටර දෙකහමාරක් විය. අපි ඌ වෙන මැදිරියකට මාරු කළෙමු. එය වැටකින් වට කළෙමු. කොටුව තුළ ඌ නිදහසේ ඔබ මොබ ගියේය. උණ මොරෙල්ලන් සහ කෙසෙල් ගෙඩි උගේ ආහාරය විය. උණ මොරෙල්ලන් බඩු ගෙන යන රොකට් වලින් ඉන්දියාවෙන් ගෙන්වන ලදි. කෙසෙල් ගෙඩි ''සරුකෙත'' ගොවිපලින් සපයන ලදී.

කොටුව මැද සිමෙන්තියෙන් තනන ලද ජලාසයක් විය. බ්‍රොන්ටි කැමැත්ත දැක් වූ මඳක් ලුණු මිශ්‍ර ජලය එහි පුරවා තිබුණේය.

හිටි හැටියේම බ්‍රොන්ටි ගේ ආහාර රුචිය නැති විය. පිට පිට තුන් දවසක් ම ඌ උණ මොරෙල්ලන් හෝ කෙසෙල් ගෙඩි දෙස බැලුවේ වත් නැත. හතර වෙනි දවසේ ඌ තමාගේ හිස ප්ලාස්ටික් ගරාදි වැට මත රඳවා කොටුව තුළ වැතිර සිටියේය. ඌ මිය යාමට ආසන්න බව පෙනුණේය. එහෙත් අපට ඌ මැරෙන්නට ඉඩ දිය හැකි ද? ආදි යුගයක සිට වඳ වී ගිය සත්ත්ව වර්ගයක අවසාන පුරුක!

ලෝකයේ හොඳ ම දෙස්තරවරු අපේ උදව්වට ආහ. එහෙත් කිසි වැඩක් නොවීය. බ්‍රොන්ටි කෙසෙල් ගෙඩි, විටමින්, කිරි, දෙඩම් හෝ වෙන මොන ම ආහාරයක් වත් ගත්තේ නැත.

ඇලිස් මේ දවස්වල නගරයෙන් පිටත වාසය කළ ඇගේ ආත්තම්මා සමග නවතින්නට ගොස් සිටියාය. ඒ නිසා ඈ මේ කණගාටුදායක සිද්ධිය ගැන කිසිවක් දැන සිටියේ නැත. හතර වන දවසේ බ්‍රොන්ටි ගේ තත්වය නරක් වීම පිළිබඳ විස්තරයක් විසුරුවා හරින විටම ඇලිස් ටැලිවිසනයෙහි සුවිච්ය දමා ඇත. වහාම මොස්කව් එන්නට ඈ ආත්තම්මා කැමති කරගත්තේ කොහොම දැයි මට කිව නොහැක. කොයි හැටි වුවත් පසු දා උදෙන් ම ඈ බ්‍රොන්ටි ගේ කොටුව තුළ පෙනී සිටියාය.

''තාත්ති, ඔයාල මට මේක හැංගුව නේද? ඇයි මට එහෙම කළේ?'' ඈ අපට දෙස් පවරන ලෙසින් ඇසුවා ය.

''පස්සෙ, ඇලිස් පස්සෙ. අපි මේ රැස්වීමක් පවත් වන්න යනවා''යි මම කීවෙමි. අපි ඇත්ත වශයෙන් ම රැස්වීමක් පවත්වමින් සිටියෙමු. පිට පිට තුන් දවසක් ම අපි බ්‍රොන්ටිගේ තත්වය ගැන සාකච්ඡා පැවැත්වීමු.

ඇලිස් කිසිත් නොකියා ආපසු හැරුණාය. මිනිත්තුවකට පසු කවුදෝ තදින් හුස්ම හෙළන හඬක් ඇසුණි. හැරී බලන විට ඇලිස් වැටට නැඟ, කොටුවට බැස, බ්‍රොන්ටි වෙතට දුව යනවා පෙනුණි. ඇගේ අතේ බනිස් ගෙඩියක් තිබුණේය.

''මෙන්න, බ්‍රොන්ටි කන්න මෙක. ඒ ගොල්ලො ඔයාව මැරෙන්න ඇරල. මම ඔයා නම් මං කෙසෙල් ගෙඩිත් කනවා.''

මම වැට ළඟට දුව ගියෙමි. මගේ ඇස් ඉදිරියේ දී විශ්වාස කරන්නට බැරි දෙය සිදු විය. එය ඇලිස් කීර්ති යට පත් කළ අතර විද්‍යාඥයන් අවමානයට පත් කළේ ය.

බ්‍රොන්ටි හිස ඔසවා ඇලිස් දෙස බලා ඈ අත තිබූ බනිස පරෙස්සමින් කටින් ගත්තේය.

මා වැටෙන් පනින්න යන බව දුටු ඇලිස් ඇඟිල්ල උරුක් කර ''ස් ස්. . .ස් ස්. . . තාත්ති, බ්‍රොන්ටි ඔයාලට බය වෙලා!'' යි කීවාය.

''හරි. හරි. ඌ ඇට හානියක් කරන්නේ නෑ.'' මහාචාර්ය යකටා කීවේ ය.

මට මේ අපූරු සිද්ධිය ඇඟින් දැනගත හැකි විය. අත්තම්මා එය රූපවාහිනියෙන් දැක්කා නම් ඈට මොනවා හිතේවි ද?

දැන් බ්‍රොන්ටි හොඳට හීලෑය. ඌ දැන් මීටර් තිහක් තරම දිගය. ඇලිස්ට තමා ගේ පිටේ නැඟී යන්ට ඉඩ දීම ඌ වැඩියෙන් ම ආසා කරන දෙයයි.

සත්ත්වෝද්‍යානයේ නිලධාරියෙක් විශේෂ ඉණි මගක් තනා ඇත. ඇලිස් තමා බලන්ට ආ කල, බ්‍රොන්ට උගේ දිග බෙල්ල කූඩුව අද්දරට දික් කර, ඉණිමග කටින් ගෙන, පිටට හේත්තු කරගනී. ඇලිස් ඉණී මග දිගේ ගොස් බ්‍රොන්ටි ගේ පිටට නැංග කල ඌ කොටුව වටේ රවුමක් යයි.

---

# 2

# අඟහරු ලොවේ මුවෙක්වරු

(අත්වැල: පෘථිවිය සූර්යයා වටේ භ්‍රමණය වන ග්‍රහයෙක් බව ඔබ දන්නවා ඇති. අඟහරු, පොළොවට වඩා ටිකක් ඈතින් සූර්යයා වටේ භ්‍රමණය වන තවත් ග්‍රහයෙක්.

සමහර විද්‍යාඥයන් අනුමාන කරනවා අඟහරු ග්‍රහයේත් පොළොවේ තිබෙනවා වැනි සත්ත්ව ජීවිතයක් තිබෙන්න පුළුවන් බව. ඇලිස් ගේ දෙවැනි වික්‍රමය අන්න ඒ අනුමාන මතය උඩ ලියූ කල්පිත කතාවක්.)

වරක් මට සාකච්ඡා සම්මේලනයක් සඳහා අඟහරු ලෝකයට යාමට සිදුවිය. මම ඇලිස් ද කැටුව ගියෙමි.

රොකට් යානයේ යන විට ඇතිවන බර රහිත බව නිසා මගීහු ගුවනේ පාවෙන්නට පටන් ගනිති. මෙය මට තරමක කරදරයක් විය. ඒ නිසා මට අසුනට ම ඇලී ඉන්නට සිදු විය. එහෙත් ඇලිස් යානයේ හැම තැන ම දුව පැන ඇවිද්දය. වරක් ඈට පාලක මැදිරියේ තිරිංග දමන රතු බොත්තම තද කරන්නට ඕනෑ වූ නිසා මට පැන

1. බර රහිත බව: අජටාකාශ යානයක් පෘථිවියේ වායුගෝලය පසු කර යන විට එය තුළ ගුරුත්වාකර්ෂණ බලය හීන වීමෙන් ඇති වන පාවෙන සුලු බව.

ගොස් ඇ සිලීමෙන් මැත් කරගන්නට සිදු විය. වාසනාවකට මෙන් යානයේ නියමුවෝ ඈ ගැන කෝපයට පත් නුවූහ. අපි සුවසේ අහහරු ලෝකයට ගොඩ බැස්සෙමු.

අහහරු ලෝකයේ දී අපි අහහරු නගරයේ සංචාරයක යෙදුනෙමු; කාන්තාරයට සංචාරක සවාරියක් ගියෙමු. මහා ගිරි ගුහා බැලීමට ගියෙමු. ඉන් පසු මට ඇලිස් බලාගන්නට ඉවරයක් තිබුණේ නැත. ඒ නිසා මම ඈ සතියකට නේවාසික පාසැලකට බාර දුනිමි.

අහහරු ලෝකයේ වැඩ කිරීම සඳහා පෘථිවියෙන් ගිය විශේෂඥයෝ බොහෝ දෙනෙක් අර්ධ ගෝලාකාර පියස්සක් යට සිහිති නගරයක් ඉදි කළහ. එය ගොඩ නැඟීමට අහහරුවෝ අපට උපකාර කළහ. අහහරු ලෝකයේ පොළොවේ වැනි වායු ගෝලයක් නැති නිසා මිනිසුන්ට වාසය කළ හැක්කේ එවැනි විශාල පියසි යට සෑදූ වායු සහිත නගරවලය.

සිහිති නගරය කදිම තැනක් විය. පොළොවෙන් ගෙනවුත් සිටුවන ලද ගස් එහි සරුවට වැඩුණේය. සමහර විට ළමෝ ඇවිදීම සඳහා පිටත් එක් කරගෙන යන ලදහ. ඔවුහු තමන් ගේ අපටාකාශ ඇඳුම් කට්ටල ඇඳගෙන සිහිති නගරයෙන් පිට වී දෙදෙනා බැගින් පේළියට ගමන් කළහ.

නේවාසික පාසැලේ ගුරු තුමිය වූ වැටියානා ඇලිස් ගැන කරදර නොවන්නැයි මට කීවා ය. අපි ඇලිස් සතියකට ගුරු තුමියට බාර දී ඔවුන්ට ආයුබෝවන් කීවෙමු.

තුන්වන දවසේ ඇලිස් අතුරුදහන් වූවාය.

මෙය පුදුම සිදුවීමක් විය. පාසැලේ ඉතිහාසයෙහි කවදාවත් කවුරුවත් නැති වී නැත. අභහරු ලෝකයෙහි කෙනෙකු නැති වීම වෙන්න බැරි දෙයකි. පොළොවෙන් ආ අජටාකාශ ඇඳුම් ඇඳගත් දැරියක් කොහොමවත් නැති වෙන්න බැරිය. අභහරුවෙකු එහෙම ළමයෙකු දැක්කොත් වහාම පාසැලට ගෙනත් ඇරලනවා සිකුරුය. ඒත් ඇලිස් නැති වෙලා!

ඈ දකින්න නොලැබී පැය දෙකක් ගත වූ වහාම සාකච්ඡා සම්මේලනයේ සිටි මා වෙත ඒ බව දැනුම් දෙන ලදී. මම වහාම වේගවත් වාහනයකින් පාසැල වෙත ගියෙමි.

මා පාසැලට යන විට එහි සිටි සියලු දෙනා ම දැඩි නිහැඬියාවක ගැලී උන්හ. ඒ ඇලිස් නැතිවීම ගැන ඔවුන් කම්පාවට පත් වී සිටි නිසා විය හැකිය. කැළඹීමට පත් ව සිටි මගේ පෙනුම ද ටිකක් අවුල් සහගත වෙන්නට ඇත.

සියලු දෙනා ම නිහැඬියාවෙහි ගැලී සිටි බව මා කිවේ එහි බොහෝ දෙනෙකු සිටි නිසාය. පාසැලේ ගුරුවරු, රොබෝවරු, අජටාකාශ ඇඳුම් ඇඳගත් අභහරුවෝ දහ දෙනෙක්, (ඔවුන් පියස්ස යට වූ පෘථිවි වායු ගුණයේ සිටින විට අජටාකාශ ඇඳුම් ඇඳ සිටිය යුතු ය.) බේරා ගැනීමේ හමුදාවේ නායකයා, ගෘහනිර්මාණ ශිල්පීහු සහ තවත් බොහෝ අය ඔවුන'තර වූහ.

ප්‍රාදේශීය ටැලිවිසන් මධ්‍යස්ථානය පසුගිය පැය තුළ විනාඩි තුනෙන් තුනට පෘථිවියෙන් ආ පුංචි ගැනු ළමයකු

---

2. රොබෝවරු: මිනිසුන්ගේ හැඩ රුවට සෑදූ, මිනිසුන්මෙන් ක්‍රියා කළ හැකි යන්ත්‍ර (යාන්ත්‍රික මිනිසුන්)

නැතිවීම පිළිබඳ ව නිවේදනයක් ප්‍රචාරය කළ බව මට දැනගන්නට ලැබිණි. අහහරු ලෝකයේ සෑම වීඩියෝපෝනයක ම අනතුරු ඇඟවීමේ රතු එළිය දැල්වුණේය. සෑම අහහරු පාසැලක් ම වසාදමන ලදි. ඒවායේ ශිෂ්‍ය ශිෂ්‍යාවෝ කංඩායම් වශයෙන් ගොස් නගරය තුළ සහ අවට පෙදෙස් පීරා බලන්නට වූහ.

ඇලිස් ගේ අතුරුදහන් වීම දැනගන්නට ලැබුණේ ඇගේ කංඩායම ගිය ගමන නිමවා ආපසු ආ හැටියේය. දැන් කංඩායම ආපසු පැමිණ පැය දෙකක් ගත වී ඇත. ඈ වෙත ඔක්සිජන් තිබුණේ තවත් පැය දෙකකට පමණි.

ඇලිස් ගේ තරම මම හොඳහැටි දනිමි. ඒ නිසා පාසැලේ කාර්ය මංඩලය පාසැලේ ගොඩනැගිල්ලේ සෑම අස්සක් මුල්ලක් ද, පාසැලට කිට්ටු ප්‍රදේශය ද හොඳහැටි පිරික්සා බැලුවේ දැ යි මම විමසුවෙමි. බාගෙද ඈට අහහරු ලොවේ සිටින මන්තිස් නම් යාඥා කෘමියෙකු හමු වී යකාගේ හරි මුල්ලකට වී ඌ පරීක්ෂා කරමින් සිටිනවා වෙන්නත් බැරි නැත.

නගරයේ බිම ගෙවල් නැතැයි ද අහු මුලු සියල්ල එහි තොරතුරු හොඳින් දන්නා පාසැල් සිසුන් සහ සරසවි සිසුන් විසින් හොඳහැටි සොයා බලන ලදැයි ද මට කියන ලදී.

මම ඇලිස් ගැන තදින් කෝපයට පත් වීමි. ඇගේ හැසිරීම බොහෝ භයානකය. එහෙත් ඈ කොයි මොහොතේ හරි ඉතාම අහිංසක මූණක් පෙන්නාගෙන කොයි පැත්තෙන් හරි මතුවෙන්න පුළුවන් බව මම දනිමි. ඇගේ හැටි එහෙමයි.

සියලු අහහරුවන් ගේ සහ එහි සිටින මිනිසුන් ගේ සිත් මේ සිද්ධිය ගැන යොමු වී තිබුණ නිසා ඔවුන් ගේ

එදිනෙද කටයුතු අඩ පණ වී තිබුණි. මුළු මහත් මුදගැනීමේ හමුදුව හෝදිසියෙහි යොදවා තිබුණි. මම අතිශයින් සිත් කරදරයට පත් වී සිටියෙමි. මේ වතාවේ නම් ඇගේ වීර ක්‍රියාව ඉතා කණගාටුදයක ලෙස අවසාන විය හැකිය.

නිරීක්ෂණ කණ්ඩායම් වල වාර්තා පිට පිට ලැබෙන්නට විය. ඉන් දෙකක් මෙසේ ය;

''දෙවෙනි අඟහරු උසස් පාඨශාලාවේ ශිෂ්‍යයෝ ක්‍රීඩා මංඩපය පුරා සොයා බැලූහ. එහෙත් ඇලිස් හමුවුණේ නැත.''

''අඟහරු සීනි බෝල කර්මාන්ත ශාලාව පාපීවියෙන් ආ දැරිය තම භූමි ප්‍රදේශය තුළ නැති බව වාර්තා කරයි.''

සමහර විට ඇලිස් කාන්තාරය තුළට යන්නට ඇතැයි මට සිතුණි. ඇ නගරය තුළ සිටි නම් මේ වන විට හමුවිය යුතුය. ඒත් කාන්තාරය......? අඟහරු කාන්තාරය තවම හරි හැටි හෝදිසි කර බලා නැත. එහි දී කවුරුහරි අතරමං වුණොත් අවුරුදු දහයකින් මෙහා හමු වන එකක් නැත. මෙතෙක් සොයා බලා ඇත්තේ එහි කිට්ටු ප්‍රදේශ පමණකි.

''ඇ හමුවෙලා!'' තද නිල්පාට ටියුනික් කබායක් ඇඳ සිටි අඟහරුවා තමා ගේ පොකට් වැලිවිසනය දෙස බලාගෙන කෑ ගැසුවේය.

''කොහෙද? කොහොමද? කොහෙන්ද?'' උනන්දුවෙන් අසන ප්‍රශ්න එක පිට එක ගලා ආවේය.

''කාන්තාරයේ කිලෝමීටර් දෙසීයක් විතර ඈත.''

''දෙසීයක්?''

'මටත් හිතුණා ඒක' යන්න මගේ හිතට ආවේය. ඇලිස්ගේ හැටි ඔවුන් දන්නේ නැත. සමහරවිට ඈ කාන්තාරය තුළට යන්න ඇති බව මමත් කලින් අනුමානයෙන් සිතීමි.

''දරුවා සනීපෙන්. දැන් මෙහාට ගෙනේවි.''

''කොහොමද එයා එහාට ගියේ?''

''තැපැල් ගෙන යන රොකට්ටුවක නැගලා.''

''හානේ! ඇත්තටම?'' වැටියානාගුරුතුමිය කඳුළු වගුරුවන්නට වූවාය.

''එයා අපි කාටත් වැඩිය උනන්දු ළමයෙක්.''

අපි සියලු දෙනාම ඈ සනසන්නට වීමු.

''අප තැපැල් කන්තෝරුව පහු කරලා ඇවිදගෙන එන කොට ස්වයංක්‍රිය[3] රොකට්ටුවකට බඩු පටවන බව දුටුවා. මම ගණන් ගත්තේ නෑ. අපට ඒවා දවසට සිය ගණනක් පේනවා.''

මිනිත්තු දහයකට පසු රොකට් පදවන අහසරුවෙක් ඇලිස් කැටුව පැමිණි විට රහස හෙළි විය.

''මම රොකට් එකට ගියා ලියුම ගන්න.''

''මොන ලියුමද?''

3. ස්වයංක්‍රිය: (නියමුවෙක් නැතිව) ඉබේ ක්‍රියා කරන රොකට්ටුව.

''ඇයි, තාත්ති ඔයා කීවෙ අම්මා අපට ලියුමක් එවාවි කියල. ඉතින් මම ලියුම හොයන්න රොකට් එක ඇතුළෙ බැලුවා.''

''ඔයා ඒක ඇතුළට ගියා ද?''

''නැත්තං? දොර ඇරල තිබුණා. මං ඇතුළට ගියා. එතන ලියුම් ගොඩාක් තිබුණා.''

''ඊට පස්සෙ මොකද වුණේ?''

''මම ඇතුළට ගිය හැටියෙ දොර වැහිල රොකට් එක පිටත් වුණා. මම නවත්තන බොත්තම හොයන්න බැලුවා බොත්තං පේළියක් තිබුණා. මම අන්තිම එක එබුවා. රොකට් එක බිමට බැස්සා. එතකොට දොර ඇරුණා. පිටතට ඇවිත් බැලුවම වැලි මිසක් මොනවත් නෑ. තාත්තා නැන්දවත් අනිත් ළමයින්වත් පේන්න හිටියෙ නැහැ''

''එයා ඔබලා තියෙන්නෙ හදිස්සියකට රොකට් එක බිමට බස්සන බොත්තම.'' ටියුනික් කබාය ඇඳ සිටි අඟහරුවා ඇලිස්ගේ දස්කම අගය කරමින් කීවේය.

''මම මිනිත්තුවක් ඇඬුවා. ඊට පස්සෙ පයින්ම ගෙදර එන්න හිතුවා.''

''ඉතින් ඔයා කොහොමද එන්න දිසාව හොයා-ගත්තෙ?''

''මම වට පිට බැලුවා, පුංචි කන්දක් දැක්කා. දිසාව දැනගන්න මම කන්ද උඩට නැග්ගා. එතෙන්ට මුකුත් පේන්න තිබුණෙ නෑ,''

''කන්ද පැත්තට වෙන්න පුංචි දොරක් තිබුණා. මම ඒකෙන් ඇතුළට ගිහිල්ලා මහන්සියට කාමරය ඇතුළෙ ඉඳගත්තා.''

''මොන දොරක් ද?'' අභහරුවා පුදුමයෙන් ඇසුවේය. ''කාන්තාරෙ මිසක් ඒ හරියෙ මුකුත් නෑ.''

''නෑ. එතන දොරකුයි කාමරයකුයි තියෙනවා. කාමරය ඇතුළෙ ලොකු ගලක් තියෙනවා. හරියට පුංචි පිරමිඩ එකක් වගේ. තාත්ති, අර ඔයා මට කියෙව්වෙ ඊජිප්තුවේ පිරමිඩ ගැන? ඒ වගේ පොඩි එකක්.''

අභහරුවෝද මුදුගැනිමේ හමුදවේ නායකයාද ඇලිස් ගේ ප්‍රකාශයෙන් බලාපොරොත්තු නොවූ පරිදි කලබල යට පත් වූහ.

''වුටෙක් වරු!'' ඔව්හු මහ හඩින් කෑ ගැසූහ. ''අභහරු ලෝකයේ මුල් පදිංචි කාරයෝ!''

''කොහෙ ඉඳලද මෙයා හමු වුණේ? අපට ඉසව්ව කියන්න.''

මේ අද්භූත ආරංචිය ඇසූ කාමරය තුළ සිටි අයගෙන් වැඩි දෙනෙක් ඒ පිළිබඳ වැඩි දුර තොරතුරු දැනගැනීම සඳහා නො ඉවසිල්ලෙන් වහා ඉවත්ව ගියහ.

වැටියානා ගුරුතුමිය ඇලිස්ට සෑම වෙලේක් දෙන ගමන් මීට අවුරුදු දහස් ගණනකට පෙර අභහරු ලෝකයේ තිබී අතුරුදන් වූ වුටෙක් ශිෂ්ටාචාරය ගැන දිග

විස්තරයක් කළාය. එයින් දැනට ඉතිරිව ඇත්තේ කුඩා පිරමිඩ පමණකි. මෙතෙක් අහහරුවින් වත් පොළොවෙන් ආ විද්‍යාඥයන්වත් වුටෙක් යුගයට අයත් එකම ගොඩ-නැගිල්ලක්වත් සොයාගෙන නැත. ඔවුන් සොයා ගෙන ඇත්තේ කාන්තාරයේ විසිරී ඇත්තාවූද සමහර තැනක වැල්ලට යට වී ඇත්තාවූද පිරමිඩ පමණකි. ඇලිස්ට වුටෙක්වරුන් තැනූ ගොඩනැගිල්ලක් හමු වී ඇත්තේ අහම්බෙනි.

අහහරු ලෝකයේ සම්මේලනයෙන් ආ පසු පැමිණ මාස දෙකකට පමණ පසු දිනක් මම 'ලෝකය වටේ' නම් සඟරාව කියවීමට අතට ගතිමි. එහි 'වුටෙක් වරුන්ගේ හැඩ රුව' නමින් ලිපියක් පළ වී තිබුණේය. වුටෙක් සංස්කෘතිය පිළිබඳ වටිනා පුරාවස්තු කිහිපයක් අහහරු ලෝකයෙන් මෑතදී සොයාගන්නා ලද බව ද, ඉන් වඩාත්ම වැදගත් පුරා වස්තුව පිරමීඩයක කොටා ඇති වුටෙක් ජාතිකයෙකුගේ පිළිරුවක් බවද එහි සඳහන් විය. මෙතරම් කලක් මේ පිළිරුව විනාශයට පත් නොවී තිබීම පුදුමයක් බව සඳහන් වූ එහි පිළිරුවේ ඡායාරූපයක්ද තිබුණේය.

පිළිරුව මට ඉතා හුරු පුරුදු එකක් බව හැඟුණේය. එක් බියකරු සිතුවිල්ලක් මගේ සිතට නැගුණේය. මම වහා ඇලිස්ට කතා කෙළෙමි.

''ඇලිස්, ඇත්ත කියන්න. ඔයා කාන්තාරයෙ නැති වෙලා හිටපු වෙලාවෙ පිරමීඩයෙ මොනව හරි ඇන්ද ද?''

ඇ පිළිතුරක් දීමට පෙර සහරාවේ තිබූ ඡායාරූපය දෙස ඕනෑකමින් බැලුවාය.

''හරියට හරි. මේ තාත්තිගෙ රූපෙ. මම ඒක උල් ගලකින් කුරුටු ගෑවා. ඒ වෙලාවෙ මම හරි කාන්සියෙනුයි හිටියෙ.''

# 3

# අතුරුදහන් වූ අමුත්තෝ

(අත්වැල: පෘථිවිය ඇතුළු ග්‍රහ ලෝක නවයක් සූර්යයා වටා භ්‍රමණය වන බව අපි දනිමු. සූර්යයා ඇතුළු එම ග්‍රහ මංඩලය අපි සෞර මංඩලය නමින් හඳුන්වමු.

විශ්වය තුළ ඉලක්කම්වලින් දැක්විය නොහැකි තරම් දුරින් – තවත් අනන්ත සූර්යයන් ඇති බව විද්‍යාව කියයි. මේ සූර්යයන් ගෙන් බොහොමයක් වටා භ්‍රමණය වන ග්‍රහ මංඩල ඇති බවද ඉන් ඇතැම් ග්‍රහයන්හි පෘථිවියේ මෙන් ජීවීන් ඇති බවද විද්‍යාඥයෝ අනුමාන කරති. මේ කතාවෙහි එන ලබුසිලියාව එබඳු සෞර මංඩලයකට අයත් කල්පිත ග්‍රහ ලෝකයකි.

අමුත්තන් වශයෙන් පෘථිවියට ආ ලබුසිලියානු දූත පිරිස මෙහිදී අතරමං වූ සැටිද අන්තිමේදී ඔවුන් සොයාගනු ලැබූ සැටිද මේ කතාවෙන් කියැවේ.)

ලබුසිලියානුන් පිළිගැනීම සඳහා රාජ්‍ය උත්සවයක් පැවැත්වීමේ කටයුතු ලහි ලහියේ සූදානම් වෙමින් තිබුණේය. ඒ තරම් දුරස්තර ග්‍රහ ලෝකයක වැසියන් අපේ සූර්ය ග්‍රහ මංඩලයට අයිති ග්‍රහ ලෝකයකට පැමිණෙන පළමුවන වතාව මෙයය.

ප්ලූටෝ ග්‍රහ ලෝකයේ පණිවුඩ හුවමාරු මධ්‍යස්ථානය ලබුසිලියානුන්ගේ සංඥ මුලින්ම ලබා ගත්තේය. ඊට දවස් තුනකට පසු 'ලොන්ඩේල්' ආකාශ වස්තු පරීක්ෂණාගාරය ඔවුන් සමග සම්බන්ධය ඇති කර ගත්තේය. ලබුසිලියානුන් තවමත් බොහෝ ඈතය. නමුත් ඔවුන් සාදරයෙන් පිළිගැනීම සඳහා අවශ්‍ය සියලු කටයුතු සෙරමිට්වෝ – 4 අජටාකාශ යානාංගනයෙහි පිළියෙල වෙමින් තිබුණේය. රතු රෝස ආයතනයෙන් ආ බාලිකාවෝ පියකරු ඇඳුම්වලින් සැරසී අමුත්තන් පිළිගන්නට මල් මාලා රැගෙන සිටියහ. සාහිත්‍ය – කලා විදුහලේ සිසුවෝ ඔවුන්ගේ සංගීත සහ කාව්‍ය ප්‍රසංගය පිළිබඳ අවසාන පුහුණුවීම් නිම කළහ. සෑම තානාපති කාර්යාලයක්ම දර්ශන වේදිකාවේ ආසන වෙන් කරවා ගත්හ. පත්‍ර වාර්තා කරුවෝ අජටාකාශ යානාංගනයෙහි ආපන ශාලාවේ රාත්‍රිය ගත කළහ. ඇලිස් මේ දවස්වල 'නුවෝකෝ'හි පිහිටි සිය ආත්තම්මාගේ නිවසෙහි නැවතී වියළි පැළෑටි එකතු කරමින් සිටියාය. ඈට තමාගේ පැළෑටි එකතුව ජොයෂ්ය කංඩායමේ වාන්යාගේ එකතුවට වඩා සරු එකක් කර ගැනීමට ඕනෑ විය. ඒ නිසා ඈට උත්සවය පිළිබඳ කිසිම වැඩකට සම්බන්ධ වීමට බැරි විය. අනෙකක් තබා උත්සවයක් පැවැත්වෙන බවක් වත් ඈ දැන සිටියේ නැත.

මා පවා උත්සවයේ වැඩට කෙලින්ම සම්බන්ධව සිටියේ නැත. මගේ වැඩ කොටස තිබුණේ ඔවුන් ගොඩ බැස්සාට පසුවය.

ඊට පසු කරුණු සිදු වුණේ මෙසේය:

මාර්තු 8 වෙනිද තමන් පෘථිවි කක්ෂයට ඇතුළු වූ බව ලබුසිලියානුහු සංඥ මගින් අපට දැනුම් දුන්හ. අවාසනා-

වකට මෙන් හරියට වෙලාවට අත් වැරැද්දක් සිදු විය. පාලක මධ්‍යස්ථානය ලබුසිලියානු යානය වෙනුවට මීට දවස් දෙකකට පෙර සබඳතා නැති කරගත් 'නෝබෙල්-29' ස්විඩිස් (ස්විඩන් රටට අයත්) චන්ද්‍රිකාව සමග සබඳතා ඇති කර ගත්තාය. මේ වැරැද්ද සොයාගන්නා විට ලබුසිලියානු යානය අතුරුදන් වී තිබුණි. එය පහළ වැසීමට පටන් ගෙන තිබූ අතර එය සමග අපේ සම්-බන්ධතාව තාවකාලිකව නැති විය.

මාර්තු 9 වෙනි දින 6.33ට තමන් උත්තරාක්ෂ 55.20 සහ නැගෙනහිර දේශාන්තර 37.40න් දක්වෙන ප්‍රදේශයට ගොඩ බැස්ස බව ලබුසිලියානුහු නිවේදනය කළහ. වෙනත් වචනවලින් කියතොත් ඔවුහු මොස්කව් නගරයට ඉතා කිට්ටුව ගොඩ බැස්සාහ.

ඊට පසු යානය සමඟ අපේ සම්බන්ධතාව නැති විය. මා පසුව විස්තර කරන එක් අවස්ථාවකදී හැර එම සම්බන්ධතාව නැවත ඇති කරගැනීමට බැරි විය. පෘථිවියේ විකිරණයට අසුවීම නිසා ලබුසිලියානුන්ගේ යන්ත්‍රෝපකරණ සියල්ල විනාශ වුණාක් මෙන් පෙනී ගියේය.

සිය ගණන් වාහනද අහස් ගණන් මිනිස්සුද ලබුසිලි-යානුන් ගොඩ බසිනු ඇතැයි සැලකූ පෙදෙසට වැල නොකැඩී දුව යන්නට වූහ. හැමට කලින් අමුත්තන් දක ගන්නට පොරකන මිනිසුන් ගෙන් වීදි පිරී ගියේය. සේරමිට්වෙෝ – 4 අජටාකාශ යනාංගනය මිනිසුන් ගෙන් හිස් විය. එහි ආපනශාලාවේ සිටි පත්‍ර වාර්තාකරුවන් ගෙන් එකෙක් වත් ඉතිරි වුණේ නැත. නොයෙක් මෝස්තරවල ගුවන් යානාවලින් නගින හඬින් ගුවන් තලය

රවී දුන්නේය. ග්‍රුවන් යනා සමූහය අහස වසාගත් යෝධ මදුරුවන් රංචුවක් මෙන් පෙනුණේය.

මේ ජනකායේ හැටියට ලබුසිලියානු යානය පොළොව යටට ගිලී ගියත් හමු විය යුතුය. එහෙත් එය හමු වුණේ නැත.

යානය ගොඩ බසින වේලාවෙ මොස්කව් නගරය සහ අවට සිටින හැම දෙනම ගෙවලින් එළියට බැස අහස බලාගෙන සිටියහ. ඒ නිසා පළාතේ පදිංචි කරුවන් එක් කෙනෙකුවත් යානය ගොඩ බසිනු නොදැකීම පුදුමයට කරුණක් විය.

මෙහි කිසියම් වැරදීමක් තිබිය යුතුය.

හැන්දෑවේ මා වැඩ ඇරී ගෙදර එන විට අපේ ග්‍රහ ලෝකයේ එදිනෙදා ජීවිතයේ සෑම කටයුත්තක්ම ඇන හිට තිබුණේය. අපේ අමුත්තන්ට මොනවා සිදුවෙන්න ඇද්දැයි හැම දෙනාම දුක් වෙමින් සිටියහ. මට විදුලි දුම්රියේදී පහත සඳහන් දෙබස් ඇසුණි.

"සමහර විට ඔවුන්ගේ ශරීර අපේ ලෝකයේ ඇති දේ සෑදී තිබෙන ද්‍රව්‍යවලින් නොව ඊට විරුද්ධ වූ ප්‍රති-පදර්ථ[1] වලින් සෑදී තිබෙනවා වෙන්න පුළුවන්. එහෙම නම් ඔවුන් පෘථිවියේ වායු ගෝලයට ඇතුළු වන විටම අහෝසි වෙලා යන්න පුළුවන්."

---

1. ප්‍රති – පදර්ථ: පෘථිවියේ ද්‍රව්‍ය සෑදී තිබෙන පදර්ථවලට සමාන – එහෙත් විරුද්ධ විද්යුත් ආරෝපනයෙන් යුත්-පෘථිවියෙන් බාහිර ප්‍රදේශවල ඇතැයි සලකන කල්පිත පදර්ථය.

''යන්තම් ආලෝකයක්වත් නැතිව? ලකුණක්වත් ඉතිරි නොකර? විකාර කතා.''

''බාගෙද මේ සම්පූර්ණ කතන්දරය කිසියම් කවට-යෙකුගේ කවටකමක් වෙන්න පුළුවනි.''

''අස්කරගන්නවා. එහෙනං ප්ලූටෝවලින් පණිවුඩය දුන්නෙත් කවටයෙක්ද?''

''එහෙම වුණත් උපකරණවලින් වත් ඔවුන් ඉන්න බව දැනගන්න හැකිවෙන්න ඕනෑ.''

'අමුත්තන් ඇසට නොපෙනෙන අය විය යුතුය' යන මතය වැඩි දෙනාගේ සිත් ගත් බව පෙනුණි.

මම ආලින්දයේ වාඩි වී ලබුසිලියානු අමුත්තන් අපේ නිවස කිට්ටුව තිබෙන තණ පිටියටවත් ගොඩ බහින්න ඇද්දැයි සිතමින් සිටියෙමි. සමහරවිට ඔවුන් තමන් ගැන කිසිවකු සැලකිල්ලක් නොදක්වන්නේ මන්දැයි සිතමින් යානය ළඟට වී බලා සිටිනවා වෙන්නත් පුළුවන. ඔවුන් අපට වරද පවරා ආපසු යන්නට බැරිකමක් නැත. මා තණ පිටිය පැත්තට යාමට සැරසෙන විටම මිනිසුන් පෙළක් අත් වැල් අල්ලාගෙන කැලෑවේ සිට තණ බිම පැත්තට එන බව පෙනුණි. ඔවුහු අසල පුංචි නිවෙස්වල වෙසෙන මිනිස්සුය.

'අමුත්තන් ඇසට නොපෙනෙන අය ය' යන මතය පිළිගත් අසල්වැසියන් ඔවුන් අත පත ගැමෙන් අල්ලා ගැනීම සඳහා එසේ අත් වැල් බැඳගෙන එන බැව් මම තේරුම් ගතිමි.

හදිසියෙන්ම ලොව පුරා ඇති රේඩියෝ විකාශන මධ්‍යස්ථාන ක්‍රියාකාරී විය.

උතුරු ඕස්ට්‍රේලියාවේ රේඩියෝ කාර්මිකයෙකුට අසන්නට ලැබී පිටපත් කරගන්නා ලද පණිවුඩයක් ඒවායින් විසුරුවා හරින ලදී. ලබුසිලියානුන්ගේ සංඥා වචනයට නගන ලදුව වරින් වර ප්‍රචාරය කළ ඒ පණිවුඩය මෙසේය :

"අපි කැලෑවක ඉන්නවා. මිනිසුන් ගැන හොයන්න පළමුවන කංඩායම යැව්වා. ඔබගේ ප්‍රචාරයන් ලබා ගැනීමට බලාපොරොත්තු වෙනවා. ඒත් පුදුමයි. කිසි ප්‍රතික්‍රියාවක් නෑ..." මෙතැනදී සංඥා නතර විය. අමුත්තන් ඇසට නොපෙනෙන අය ය, යන මතය අනුමාන කරන අය දස ලක්ෂ ගණනින් වැඩි වූහ.

ආලින්දයේ බලා උන් මට කලින් පෙළ ගැසී ආ මිනිසුන් නැවත කැලෑව දෙසට යන බව පෙනුණි.

ඒ මොහොතෙහි ඇලිස් කැලෑ දං කුඩයක් අතේ ඇතිව නිවසට ආවාය.

"මොකද මේ මිනිස්සු කලබලයෙන් එහෙ මෙහෙ දුවන්නෙ?"

"ඇලිස්, ඔයා ඔයාගෙ එකම තාත්තා උදේ ඉඳලම දැක්කෙ නෑ නොවැ. ඉතින් දවසේ පළමු වරට තාත්තට කතා කරන කොට හලෝ කියන්න ඕන නේද?"

''උදේ හිටන් නෙමෙයි ඊයෙ හැන්දැවෙ හිටන්, ඇයි? ඔයා යන කොට මම නිදිනෙ............ හලෝ තාත්ති, මොකද වෙලා තියෙන්නෙ?''

''ලබුසිලියානුවරු නැති වෙලා'' මම පිළිතුරු දුනිමි.

''ඒ කවු ද? මම දන්නෙ නෑ.''

''කවුරුවත් දන්නෙ නෑ තවම.''

''එහෙනම් කොහොමද ඒ ගොල්ල නැති වුණේ?''

''ඔවුන් යානයකින් පොළොවට ආවා. ඔවුන් ගොඩ බැස්සා. දැන් නැති වෙලා.''

ඇලිස් මා දෙස විමසිලිමත්ව බැලුවාය. ''තාත්ති, මෙහෙම දේවල් ඇත්තටම සිදු වෙනවද?''

''නෑ මේව නිතර සිදු වෙන්නෙ නෑ.''

''ඒ ගොල්ලො නැති වුණේ කොයි හරියෙ ද?''

''මොස්කව් කිට්ටුව තැනක. මේ ළඟම වෙන්නත් පුළුවනි.''

''අර හෙලිකොප්ටරයි මිනිස්සුයි ඒ ගොල්ලො හොයනවා, එහෙම නේද?''

''ඔව්, ඒක හරි.''

''ඒ ගොල්ලො තමන්ම අපි ළඟට නේන්නෙ ඇයි?'

''සමහර විට තමන් හමුවන්න මිනිසුන් යන තුරු ඔවුන් බලා සිටිනවා වෙන්න පුළුවන්. මේක ඔවුන් පොළොවට ආපු පළමුවෙනි ගමන. ඉතින් ඔවුන් තමන්ගෙ යානය ළඟට වෙලා බලන් ඉන්නවා වෙන්න පුළුවන්.''

ඊට පසු ඇලිස් කල්පනාකාරී ලෙස මෙසේ ඇසුවාය.

''ඒ ගොල්ලො ඉන්නෙ තණ පිට්ටියෙද? කැලේද?''

''කැලේ.''

''කොහොමද ඒක දන්නෙ?''

''ඔවුන් ඒක රේඩියෝ පණිවුඩයකින් කීවා.''

''ඒක හොඳා.''

'මොකක්ද හොඳ?''

''ඒ ගොල්ලො ඉන්නෙ තණ පිට්ටියෙ නොවන එක.''

''ඇයි?''

''මම හිතනවා, මා ඒ ගොල්ලො දුටුවයි කියලා.''

''මොනවා!''

''මුකුත් නෑ. මම විහිළු කළා.''

මම වාඩි වී සිටි අසුනින් උඩ විසි වීමි. ඇලිස්ට ඉතා හොඳ වැටහෙන නුවණක් තිබේ.

''මං කැලේට ගියෙ නෑ තාත්ති. මං උන්නෙ එළි-මහනෙ. ඉතිං මං දැක්කෙ ඒ ගොල්ල වෙන්න බෑ.''

''ඇලිස්, මට කියන්න ඔයා දන්න දේවල් සේරම වැල් වටාරං නැතුව.'' මම උස් හඬින් කීමි.

''ඇත්තමයි. මං කැලේට ගියෙ නෑ.''

''හරි, ඉතිං එළිමහනෙ?''

''තාත්ති, මං කිසි වැරැද්දක් කළේ නෑ. ඒ ගොල්-ලොත් ඒ තරං පුදුම අය නෙමෙයි.''

''දෙයියන්නෙ නාමෙන් මට කියන්න, ඔයා කොහෙ-දිද, කව්ද, දැක්කෙ?''

''හරි, ඒ ගොල්ලො මෙහෙ ඉන්නවා. ඒ ගොල්ලො මාත් එක්ක ආවා.''

මට ඉබේම වට පිට බැලුණි. ආලින්දය හිස්ය. ඇලිස් සහ මා මිස වෙන කවුරුවත් නැත.

''නෑ මෝඩි, ඔහෙ නෙමෙයි බලන්න ඕනෑ. මට ඕන කළා ඒ ගොල්ලො මා ළඟම තියාගන්න. මේ.... .'' කියමින් ඈ දං කූඩය මගේ මුහුණ ළඟට ඉස්සුවාය.

කූඩය තුළ අජටාකාශ ඇඳුම් ඇඳගත් ඩිංගිති සිරුරු දෙකක් දුටු මට මගේ ඇස් අදහාගන්නට බැරි විය. රට දං ගෙඩි වල ඉස්ම ඔවුන් ගේ සිරුරුවල තැවරී තිබුණි. ඔවුහු දෙදෙනා දං ගෙඩියක් මත වාඩි වී සිටියහ.

"මම පරිස්සම් වුණා ඒ ගොල්ලට නොරිද්දවන්න." ඇලිස් චෝදනාවකින් බේරීමට මෙන් කීවාය. 'ඇරත් මම හිතුවෙ මේ අය අර ආත්තම්මා කියන කතාවල ඉන්න කුරු කුංඩයියලා කියලයි."

"මම තව දුරටත් ඇට කන් දීමට පමා නොවී කූඩය පපුවට තුරුලු කරගෙන වීඩියෝෆෝනය කරා දුව ගියෙමි. ඔවුන්ට තණ පඳුරු කැලෑවක් මෙන් පෙනෙන්නට ඇතැයි දුවන ගමන් සිතුවෙමි.

මෙන්න මෙහෙමයි අපට අතුරුදන් වූ ලබුසිලියානුන් හමු වුණේ.



**" Viscam Deriya "**

( The Super Skilled Girl ) is a book with stories written for children.

It is an adaptation in Sinhala, in a manner comprehensible to children, of the stories in the science fiction, " The Girl Who Conquered Everything" written by famous Soviet science fiction author, Kir Bulychev, depicting the adventures of a girl in the twenty - first century.

The present book is written by J. E. Gunasekera, a writer with wide experience, who has to his credit a good number of popular children's books, and who has been honoured with the state award for literary translations of 1983.

This will be well suited for children 8 - 12 years for enjoyble reading.



කුරුලු පොත්